OL/2010/84-S-I,II



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**84 S I,II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2010 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2010 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2010

| | | |
|---|---|---|
| ශිල්ප කලා | I, II | පැය තුනයි |
| நுண்கலை | I, II | மூன்று மணித்தியாலம் |
| Arts and Crafts | I, II | Three hours |

## ශිල්ප කලා I

සැලකිය යුතුයි :

(i) සියලු ම ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

(ii) අංක 1 සිට 40 තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) පිළිතුරුවලින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ පිළිතුර තෝරන්න.

(iii) ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන්, ඔබ තෝරා ගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.

(iv) එම උත්තර පත්‍රයේ පිටුපස, දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

---

1. ජනකලා ලෙස බිහිවී විකාශය වූ පහත දැක්වෙන කර්මාන්ත අතුරෙන් ශාන්ති කර්ම උදෙසා නිර්මාණය වූ ජනකලා කර්මාන්තය කුමක් ද?
   (1) පේෂ කර්මාන්තය (2) මැටි කර්මාන්තය
   (3) වෙස් මුහුණු කර්මාන්තය (4) ලාක්ෂා කර්මාන්තය

2. සරල රේඛාවක් මත පිහිටි ලක්ෂ්‍යයකට ලම්බකයක් ඇඳීම සඳහා පැන්සල සමඟ භාවිත කළ යුතු අනෙකුත් ජ්‍යාමිතික උපකරණ මොනවා ද?
   (1) කෝදුව සහ කෝණමානය (2) කෝදුව සහ කවකටුව
   (3) කවකටුව සහ විහිත චතුරස්‍රය (4) විහිත චතුරස්‍රය සහ කෝණමානය

3. A, B, C සහ D යන ජ්‍යාමිතික රූප මගින් දැක්වෙන කෝණ අතුරෙන් 90° ට වැඩි අගයකින් යුතු කෝණ පමණක් දැක්වෙන වරණය තෝරන්න.


A සරල කෝණය


B පරාවර්තන කෝණය


C සෘජු කෝණය


D සුළු කෝණය

   (1) A සහ B (2) A සහ D (3) B සහ C (4) C සහ D

4. සෘජුකෝණයක් සම කොටස් තුනකට බෙදා ගැනීමේ ජ්‍යාමිතික නිර්මාණයක් මෙහි දැක්වේ. මෙම නිර්මාණයේ දී පාදවල දිගට වඩා අඩු අරයකින් කවකටුව ගෙන එම අරය නොවෙනස්ව චාප කිහිපයක් ඇඳීම කළ යුතු වේ. මේ සඳහා ඇඳිය යුතු අවම චාප සංඛ්‍යාව කොපමණ ද?
   (1) 2
   (2) 3
   (3) 4
   (4) 6



[ දෙවැනි පිටුව බලන්න.

5. සෙන්ටිමීටර $10 \times 10$ක් වූ සෙන්ටිමීටර 15ක් උසැති පතුල රහිත ඝන කඩදාසි ඇසුරුමක බහාලූ වීදුරු මල් බඳුනක් රූපයෙහි දක්වේ. බඳුන පිටතට ගත් විට ඇසුරුමේ හැඩය, ඇලවී ගිය චතුරස්‍රාකාර හැඩයක් ගනී. එම හැඩය විය යුත්තේ



(1) රොම්බසයක හැඩයකි.
(2) සෘජුකෝණාස්‍ර හැඩයකි.
(3) රොම්බාභයක හැඩයකි.
(4) සමචතුරස්‍රාකාර හැඩයකි.

6. 'අටපට්ටම' නමින් හැඳින්වෙන වෙසක් පහනක ඇති සමචතුරස්‍රාකාර පැති සංඛ්‍යාව
(1) හතරකි. (2) හයකි.
(3) අටකි. (4) දහයකි.

7.


A


B


C


D

ඉහත දක්වෙන A බඳුන වෘත්තාකාර ය. B බඳුන ෂට්ඩි ෂඩාස්‍රාකාර එකක් වන අතර C බඳුන සමචතුරස්‍රාකාර එකකි. D බඳුන ඕවලාකාර ය. පතුල සහ වැස්ම ඉවත් කළ පසු, බඳ කොටසේ විකසනය සෘජුකෝණාස්‍ර ලෙස දකිය හැකි වන්නේ
(1) A සහ B බඳුන්වල ය.
(2) B සහ C බඳුන්වල ය.
(3) A, C සහ D බඳුන්වල ය.
(4) A, B, C සහ D යන සියලු ම බඳුන්වල ය.

8. බිත්ති සැරසිල්ලක් සඳහා මැටි තහඩුවක් වෘත්තාකාර ලෙස සකසා ෂඩාස්‍රාකාර හැඩය ලැබෙන ලෙස වටේ කොටස් එකම ආකාරයකට ඉවත් කර ඇත. මෙම රූප සටහනේ දක්වෙන පරිදි ඉවත් කර ඇති කොටස් වෘත්තයේ කුමන කොටස් ලෙස හැඳින්වේ ද?


I පියවර


II පියවර

(1) වෘත්ත ඛණ්ඩ (2) වෘත්ත පාද
(3) වෘත්ත චාප (4) වෘත්ත ජ්‍යාය

9. නිෂ්පාදකයකු අලෙවිකරණය සඳහා භාණ්ඩයක් නිපදවීමේ දී වඩාත් සැලකිලිමත් විය යුත්තේ
(1) භාණ්ඩයේ හැඩය පිළිබඳව ය.
(2) වෙළෙඳපොළ ඉල්ලුම පිළිබඳව ය.
(3) නිෂ්පාදන වියදම පිළිබඳව ය.
(4) භාණ්ඩයට යෙදිය යුතු වර්ණ පිළිබඳව ය.

[ අනෙක් පිටුව බලන්න.

10. මෙම රූපයෙන් දක්වෙන්නේ දේශීය මෝස්තර මගින් අලංකාර කරගත් සේසතකි. මෙම මෝස්තරය තුළ ඇති ඒක කේන්ද්‍රීය වෘත්ත සංඛ්‍යාව
    (1) හතරකි.
    (2) තුනකි.
    (3) දෙකකි.
    (4) එකකි.



11. පින්තාරු කලාවේ දී භාවිත කෙරෙන වර්ණ සියල්ල ම පාහේ සකස් කර ගැනීමට යොද ගනු ලබන මූලික වර්ණ තුන වන්නේ
    (1) රතු, සුදු සහ නිල් ය.
    (2) නිල්, කහ සහ රතු ය.
    (3) කළු, සුදු සහ රතු ය.
    (4) රෝස, සුදු සහ නිල් ය.

12. රෙදි පින්තාරු කිරීමේ දී තද පැහැයක් ළා පැහැයක් කර ගැනීමට එක් කළ යුතු වන්නේ
    (1) කලු පැහැති වර්ණකයකි.
    (2) සුදු පැහැති වර්ණකයකි.
    (3) කහ පැහැති වර්ණකයකි.
    (4) රෝස පැහැති වර්ණකයකි.

13. පින්තාරු කිරීමේ දී භාවිත කෙරෙන අංක 0, 1 වැනි අංකන සහිත පින්සල් අවශ්‍ය වන්නේ
    (1) විශාල ප්‍රදේශයක් පදස ක්‍රමයට වර්ණ ගැන්වීමට ය.
    (2) විසිතුරු වාටි මෝස්තර ඇඳීමට ය.
    (3) තරමක් විශාල මල්, පලතුරු ආදිය වර්ණ ගැන්වීමට ය.
    (4) මෝස්තරයක සියුම් රේඛා සහ ඉම් රේඛා ඇඳීමට ය.

14. ෆ්ලැක්ස් කෙඳිවලින් සාද ගන්නා ලිනන් රෙදි වර්ණ ගැන්වීම සඳහා වඩාත් සුදුසු සායම් විශේෂය කුමක් ද?
    (1) වැට් සායම් (Vat Dye)
    (2) ක්‍රෝම් සායම් (Chrome Dye)
    (3) මෝඩන්ට් සායම් (Mordant Dye)
    (4) අම්ල සායම් (Acid Dye)

15. වර්ණ ගැන්වීමේ ක්‍රියාවලියේ දී බතික් නිර්මාණ සඳහා භාවිත කරනු ලබන වර්ණක කාණ්ඩය තෝරන්න.
    (1) අම්ල, සල්පර් සහ සරල සායම්
    (2) සල්පර්, ඇසොයික් සහ අපකිරණ සායම්
    (3) නෙප්තෝල්, වැට් සහ ප්‍රෝසියන් සායම්
    (4) ක්‍රෝම්, මෝඩන්ට් සහ අපකිරණ සායම්

16. රෙදි මුද්‍රණයේ දී භාවිත කරනු ලබන ක්‍රමය අනුව ඒ සඳහා යොද ගන්නා ද්‍රව්‍ය හා උපකරණ වෙනස් වේ. තිර රාමු මුද්‍රණයේ දී (Silk screen printing) භාවිතයට ගනු ලබන්නේ
    (1) මෝස්තර සහිත අච්චුව, සායම් පෑඩය සහ මුද්‍රණ තලයයි.
    (2) මෝස්තර සහිත රාමුව, ස්ක්‍යුජිය සහ මුද්‍රණ තලයයි.
    (3) මෝස්තර සහිත ස්ටෙන්සිලය, ස්ටෙන්සිල් පින්සල සහ මුද්‍රණ තලයයි.
    (4) මෝස්තර සහිත තහඩුව, සායම් විදිනය සහ මුද්‍රණ තලයයි.

17. චතුරස්‍ර ආශ්‍රිත නිර්මාණවල දී කැබලි රෙදි භාවිතයෙන් බෝනික්කකු නිර්මාණය කිරීම සඳහා අවශ්‍ය අවම චතුරස්‍රාකාර රෙදි කැබලි ගණන
    (1) දෙකකි.
    (2) තුනකි.
    (3) පහකි.
    (4) අටකි.

18. ඉවතලන පාත් භාවිත කර පබළු සාද කෘත්‍රිම ආභරණ නිපදවීමේ දී එම පාත් මිශ්‍රණය සාද ගැනීමට පරණ පාත් සහ වර්ණකවලට අමතරව භාවිත කරන සෙසු ද්‍රව්‍ය මොනවා ද?
    (1) බයින්ඩර් ගම් සහ කපුරු කුඩු
    (2) තිරිඟුපිටි සහ බයින්ඩර් ගම්
    (3) කෝන්පිටි සහ ෆැබ්රික් ගම්
    (4) ෆැබ්රික් ගම් සහ කුරුඳු තෙල්

19. ශ්‍රී ලාංකේය උත්සව අතර විවිධ ජාතීන්ගේ සංස්කෘතික අනන්‍යතාව පැහැදිලි ව දකගත හැකි වන්නේ
    (1) විවාහ මංගල උත්සව අවස්ථාවල දී ය.
    (2) නිදහස් දින සැමරීමේ උත්සව අවස්ථාවල දී ය.
    (3) ජාතික ක්‍රීඩා උත්සව අවස්ථාවල දී ය.
    (4) වප් මඟුල් උත්සව අවස්ථාවල දී ය.

20. සිංහල, දෙමළ, මුස්ලිම් යන ජාතීන් තුන ම මංගල උත්සව සඳහා භාවිත කරනු ලබන විශේෂ අංග වන්නේ
    (1) මංගල මාලය සහ පාද ජාලා ය.
    (2) මංගල පෝරුව සහ මංගල තැල්ල ය.
    (3) මංගල මුද්ද සහ හිස පළඳනා වේලය ය.
    (4) මංගල මල් කලඹ සහ නළල් පටය ය.

[ හතරවැනි පිටුව බලන්න.

21. අත්රේන්ද ගෙතීමේ මාධ්‍ය වශයෙන් නූල් භාවිත කිරීමේ දී අත්‍යවශ්‍යයෙන් ම නූලක තිබිය යුතු ගුණාංග වන්නේ
(1) දිගින් වැඩිවීම සහ ශක්තියෙන් යුක්ත බව ය. (2) ඇඹරුම් සහිත සිහින් බව ය.
(3) කල්පැවැත්ම සහ වර්ණවත් බව ය. (4) දීප්තිමත් බව සහ ඇදෙනසුලු බව ය.

22. ඉතා ශක්තිමත් කල්පවත්නා රෙදි විශේෂයක් වන ඩෙනිම් රෙදි වියීම සඳහා භාවිත කෙරෙන්නේ
(1) ජවා වියමන ය. (2) චාම් වියමන ය.
(3) සරලහිරි වියමන ය. (4) දික්හිරි වියමන ය.

23. වියීමේ දී අත්‍යවශ්‍ය ගුණාංග මත පිහිටා රටා තෝරා ගැනීම සිදු කෙරේ. තුවා වියීම සඳහා හාක්ක වියමන තෝරා ගනු ලබන්නේ
(1) ඉතා අලංකාර රටාවක් වීම නිසා ය.
(2) ජල අවශෝෂණ ශක්තිය ඉහළ මට්ටමක පවතින නිසා ය.
(3) ශක්තිමත් බවෙන් හා කල්පවත්නා ගුණයෙන් ඉහළ නිසා ය.
(4) ඝනත්වයෙන් යුක්ත වීම හා බර අධික වීම නිසා ය.

24. මෙම රූප සටහනේ දැක්වෙන ආකාරයට රේඛාව ගමන් කිරීම වෙනස් කිරීමෙන් නිර්මාණය කර ගත හැකි හිරි වියමන් රටාව වන්නේ
(1) තුඩුහිරි වියමන් රටාව ය.
(2) රුවිතහිරි වියමන් රටාව ය.
(3) දහරහිරි වියමන් රටාව ය.
(4) කඩහිරි වියමන් රටාව ය.



25. විසිතුරු රෙදි වර්ග වියීම සඳහා භාවිත කරනු ලබන, මෙම රූපයෙන් දැක්වෙන වියමන් රටාව හඳුන්වන්නේ
(1) තුඩුහිරි නමිනි.
(2) රුවිතහිරි නමිනි.
(3) දහරහිරි නමිනි.
(4) සංයෝජිතහිරි නමිනි.



26. පාසල් නිල ඇඳුම් මැසීම සඳහා භාවිත කරනු ලබන සුදු පැහැති රෙදි විශේෂය නිපදවා ඇත්තේ සේදීමට හා මැදීමට ඔරොත්තු දෙන ආකාරයේ වියමන් රටාවක් භාවිතයෙනි. එම වියමන් රටාව කුමක් ද?
(1) චාම් වියමන (2) ජවා වියමන
(3) දික්දර වියමන (4) හරස්දර වියමන

27. වියීම සඳහා නූල් හැදයක් දික්ගැසීමේ දී නූල් අවුල්වීම වළක්වා නියමිත පළල පවත්වා ගැනීම සඳහා විශේෂයෙන් ආධාර වන උපකරණය දැක්වෙන රූප සටහන කුමක් ද?


(1)


(2)


(3)


(4)

28. වියීමේ යන්ත්‍රයක වටකද නම් කොටස
(1) යන්ත්‍රයේ වියවෙන රෙදි එතීම සඳහා භාවිත වේ.
(2) ලීවර හා පා පොලු සම්බන්ධ කිරීමට යොද ගැනේ.
(3) නූල් හැදය සමාන ආතතියකින් තබා ගැනීමට උපකාර වේ.
(4) දික්නූල් හැදය එතීම සඳහා යොද ගැනේ.

[ පස්වැනි පිටුව බලන්න.

29. අංකනය මගින් නූල් කැරැල්ලක බර සහ එහි අඩංගු කැරලි ගණන දැනගැනීමට හැකි වේ. මෙට්‍රික් අංක $2/40^{S}$ වූ නූල් කිලෝග්‍රෑම් හතරක ඇති කැරලි සංඛ්‍යාව

(1) $\frac{40}{2} \times 4 = 80$ කි. (2) $\frac{40}{4} \times 2 = 20$ කි.

(3) $\frac{40}{1} \times 4 = 160$ කි. (4) $\frac{40}{2} \times 2 = 40$ කි.

30. මෙට්‍රික් අංකන $20^{S}$ වූ නූල් කිලෝග්‍රෑම් එකක දිග මීටර කිය ද?

(1) $1000 \times 2 =$ මීටර 2000කි. (2) $1000 \times 20 =$ මීටර 20000කි.

(3) $1000 \div 20 =$ මීටර 50කි. (4) $1000 \times 20 \div 2 =$ මීටර 10000කි.

31. ඇලුමිනා සිලිකේට් ලෙස රසායනිකව හඳුන්වන, භාණ්ඩ නිෂ්පාදනයට භාවිත කෙරෙන මැටිවල අන්තර්ගත සංයෝග වන්නේ

(1) ඇලුමිනියම් ඔක්සයිඩ්, ටයිටේනියම් සහ ජලයයි.
(2) සිලිකන් ඔක්සයිඩ්, ඇලුමිනියම් ඩයොක්සයිඩ් සහ ජලයයි.
(3) ඇලුමිනියම් ඔක්සයිඩ්, සිලිකන් ඩයොක්සයිඩ් සහ ජලයයි.
(4) සිලිකන් ඩයොක්සයිඩ්, මැග්නීසියම් සහ ජලයයි.

32. ප්‍රාථමික මැටි, පිහිටි මැටි යන නම්වලින් හඳුන්වන මැටි විශේෂයේ භෞතික ලක්ෂණ වන්නේ

(1) පැහැයෙන් සුදු වීමත් සුවිකාර්ය ගුණය අධික වීමත් ය.
(2) රතු දුඹුරු පැහැ වීමත් සවිවරතා ගුණය අධික වීමත් ය.
(3) කළු දුඹුරු පැහැ වීමත් නම්‍යශීලි ගුණය වැඩි වීමත් ය.
(4) පැහැයෙන් සුදු වීමත් සුවිකාර්යතා ගුණය අඩු වීමත් ය.

33. පහත දක්වා ඇති එක් එක් මැටි භාණ්ඩය නිපදවා ගැනීමට භාවිත කර ඇති නිෂ්පාදන ක්‍රමය A, B, C, D අනුපිළිවෙළින් නිවැරදිව දක්වෙන වරණය තෝරන්න.


A


B


C


D

(1) අච්චු ක්‍රමය, සකපෝරුවේ ඉදිකිරීම, දරණු ක්‍රමය සහ තහඩු ක්‍රමය
(2) සකපෝරුවේ ඉදිකිරීම, අච්චු ක්‍රමය, තහඩු ක්‍රමය සහ දරණු ක්‍රමය
(3) තහඩු ක්‍රමය, දරණු ක්‍රමය, අච්චු ක්‍රමය සහ සකපෝරුවේ ඉදිකිරීම
(4) දරණු ක්‍රමය, තහඩු ක්‍රමය, අච්චු ක්‍රමය සහ සකපෝරුවේ ඉදිකිරීම

34. මැටි භාණ්ඩ නිෂ්පාදනයේ දී මෙම රූප සටහනෙන් දක්වෙන උපකරණය භාවිතයට ගැනෙන්නේ

(1) වෘත්තාකාර භාණ්ඩ නිපදවා ගැනීම සඳහා ය.
(2) ඇඹීමේ ආධාරකයක් ලෙස ය.
(3) මැටි පදම් කර ගැනීමේ දී ආධාරකයක් ලෙස ය.
(4) භාණ්ඩය ලියවීම සඳහා ය.



[ හයවැනි පිටුව බලන්න.

35. පෝරණු වර්ග කිහිපයක් පහත දක්වේ.
A - උඩු දහර පෝරණු
B - යටි දහර පෝරණු
C - ඉද්නා පෝරණු
D - රෝලර් පෝරණු
මහාපරිමාණ කම්හල්වල, මැටි භාණ්ඩ පිළිස්සීම සඳහා භාවිත කෙරෙන පෝරණු වර්ග ඇතුළත් පිළිතුර තෝරන්න.
(1) A සහ B (2) B සහ C
(3) C සහ D (4) D සහ A

36. මැටි භාණ්ඩ නිෂ්පාදන ක්‍රියාවලියේ දී ඉතා ඉහළ අලංකරණ ක්‍රමයක් ලෙස සැලකෙන සිදුරු කැටයම් කැපීම සඳහා සුදුසු අවස්ථාව වන්නේ
(1) නිෂ්පාදන අවස්ථාව ය. (2) වියළි අවස්ථාව ය.
(3) පිළිස්සීමෙන් පසු අවස්ථාව ය. (4) හම්පදම් අවස්ථාව ය.

37. මැටි බඳුන් අලංකාර කර ගැනීමේ ක්‍රම කිහිපයක් පහත දක් වේ.
A - කොලාජ් නිර්මාණ
B - ඩෙකෝපාජ් නිර්මාණ
C - පල්ප් නිර්මාණ
D - මාබල් නිර්මාණ
ඉහත සඳහන් ක්‍රම අතුරෙන්, කඩදාසි උපයෝගී කර ගනු ලබන්නේ කුමන නිර්මාණ සඳහා ද?
(1) A සහ B (2) A සහ D
(3) A, B සහ C (4) A, B සහ D

38. මැටි භාණ්ඩ දිස්න ගැන්වීමේ ක්‍රියාවලියේ දී මුල් දේහයේ වර්ණය, භාණ්ඩයට යොදන දිස්නය හරහා දිස්වන්නේ නම්, ඒ කුමන දිස්න යෙදීම ද?
(1) විනිවිද පෙනෙන දිස්න (Transparent) (2) විනිවිද නොපෙනෙන දිස්න (Opaque)
(3) නොදිළි දිස්න (Mat) (4) ස්ඵටිකරූපී දිස්න (Crystal)

39. මැටි මාධ්‍යයෙන් නිපදවා ගන්නා ලද උද්‍යාන මූර්තියක් කල්පවත්වා ගැනීම සඳහා කළ යුතු වන්නේ
(1) වර්ණ ආලේප කර ගැනීම ය. (2) පුළුස්සා ගැනීම ය.
(3) වාර්නිෂ් ආලේප කර ගැනීම ය. (4) ගුරුගල් දියර ආලේප කර ගැනීම ය.

40. උද්‍යාන අලංකරණයක් ලෙස සිමෙන්ති මාධ්‍යයෙන් මූර්තියක් සකස් කරන්නේ නම්, එහි පළමු පියවර වන්නේ
(1) සැකිල්ල කම්බි දල්වලින් හැඩ ගැන්වීම ය. (2) සිමෙන්ති කොළපු ආලේප කිරීම ය.
(3) මූර්තියේ සියුම් හැඩ මතුකර ගැනීම ය. (4) එහි පාදම ඇණ යොද සකස් කිරීම ය.

※※

[ හත්වැනි පිටුව බලන්න.

**84 S I,II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2010 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2010 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2010

ශිල්ප කලා I, II
நுண்கலை I, II
Arts and Crafts I, II

## ශිල්ප කලා II

※ පළමුවන ප්‍රශ්නය ද තෝරාගත් තවත් ප්‍රශ්න හතරක් ද ඇතුළුව ප්‍රශ්න පහකට පිළිතුරු සපයන්න.

**1.** ඔබ පාසලේ පුස්තකාල සංවර්ධන අරමුදලක් පිහිටුවීම සඳහා පාසල් සිසුන් විසින් සැකසූ නිර්මාණ ඇතුළත් වෙළෙඳ සල්පිලක් සහ ප්‍රදර්ශනයක් පැවැත්වීමට සැලසුම් කර ඇත.

(i) ශිල්පකලා විෂය හදාරන සිසුන්ට ප්‍රදර්ශන භාණ්ඩ ඉදිරිපත් කළ හැකි විෂය ක්ෂේත්‍ර **හතරක්** නම් කරන්න.

(ii) සියලු ම පාසල් සිසුන් සහභාගි විය යුතු මෙම ප්‍රදර්ශන සඳහා ශිල්ප කලා විෂයයට සමගාමීව නිර්මාණ ඉදිරිපත් කළ හැකි තවත් විෂය ක්ෂේත්‍ර **දෙකක්** නම් කරන්න.

(iii) ආරාධිත ප්‍රධාන අමුත්තා පිළිගැනීම සඳහා කෘත්‍රිම මල් භාවිතයෙන් මල් කලඹක් සැකසීමට තීරණය විය. එවන් අවස්ථාවක කෘත්‍රිම මල් භාවිතයේ ඇති වාසි **දෙකක්** ලියන්න.

(iv) ප්‍රදර්ශන කාර්ය මණ්ඩලයට පැළඳීම සඳහා නිකුත් කළ හැකි ලාංඡනයක දළ සැලැස්මක් අඳින්න.

(v) පිවිසුම් දොරටුව අලංකාර කිරීම සඳහා ගොක්කොළ සහ පොල්කොළ භාවිත කර වියා ගැනීමට අපේක්ෂා කරන ජටා වියමනේ හෙවත් මැටි වියමනේ ඒකක **දෙකක්** ඇඳ දක්වන්න.

(vi) ප්‍රදර්ශනයට තැබීම සඳහා, ජ්‍යාමිතික හැඩතල ආශ්‍රයෙන් සකස් කරගත හැකි කාන්තා අත්බෑග් **හතරකට** සුදුසු ජ්‍යාමිතික හැඩතල අඳින්න.

(vii) 10%ක ලාභයක් ඇති වන සේ භාණ්ඩවල මිල නියම කිරීමට උපදෙස් ලැබී ඇත. අත් බෑගයක නිෂ්පාදන වියදම රු 150 නම්, වෙළෙඳපොළ සඳහා වන මිල නියම කරන්න.

(viii) පාසල් භූමියේ ඇති කෙසෙල් ගස්වල කෙඳි භාවිතයෙන් විවිධ නිර්මාණ බිහිකර ගත හැකි ය. නිර්මාණ සඳහා කෙසෙල් කෙඳි සකස් කර ගන්නේ කෙසේ ද?

(ix) ප්‍රදර්ශනයට තැබීම සඳහා නිෂ්පාදන අවස්ථාවේ දී ම යෙදිය හැකි මැටි භාණ්ඩ අලංකරණ ක්‍රම **දෙකක්** දක්වන්න.

(x) සෙන්ටිමීටර 3ක අරයක් ඇති වෘත්ත තුනක් භාවිත කරමින් පාපිස්සක ආකෘතියක් නිර්මාණය කරන්න.

**2.** මෙහි දක්වෙන්නේ සෙන්ටිමීටර 30 ක් උස සෙන්ටිමීටර 20ක විෂ්කම්භයකින් යුත් උණුසුම් බෝතලයකට රෙදි භාවිතයෙන් සකස් කර ඇති ආරක්ෂක වැස්මක් යොද ඇති ආකාරයයි.



(i) මෙම වැස්මේ විකසනය ගොඩනගන්න.

(ii) වැස්මේ පතුල ත්‍රිකෝණාකාර රෙදි කැබලි 6ක් එකලස් කිරීමෙන් සකසා ගෙන ඇත. සෙන්ටිමීටර 5ක අරයකින් යුතු පතුල ඇඳ එය සමාන කොටස් 6කට වෙන්කර ගන්නා ආකාරය නිර්මාණය කරන්න. (නිර්මාණ රේඛා පැහැදිලිව තිබිය යුතු ය.)

(iii) වැස්මේ බඳ කොටස මුද්‍රිත, සමාන රෙදි තීරු 7ක් උඩ සිට පහළට සිටින සේ යොදා ගනිමින් අලංකාර කර ඇත. උඩ කොටසේ පතරොමේ දිග සෙන්ටිමීටර 12ක් සේ සලකා එය සමාන කොටස් **හතකට** බෙදන්න.

[ අවවැනි පිටුව බලන්න.

3. විවිධ ක්‍රම භාවිත කරමින් රෙදිපිළි ආශ්‍රිත අලංකරණ නිර්මාණ සිදු කෙරේ.
   (i) සායම් භාවිතයෙන් කරනු ලබන රෙදිපිළි අලංකරණ ක්‍රම **හතරක්** දක්වන්න.
   (ii) බතික් නිර්මාණයක් සඳහා ඉටි මිශ්‍රණයක් සාදා ගන්නා ආකාරය පැහැදිලි කරන්න.
   (iii) චතුරස්‍රාකාර රෙදි කැබලි භාවිතයෙන් බෝනික්කෙකු නිර්මාණය කරගන්නා අන්දම, දළ රූපසටහනක් උපයෝගි කර ගනිමින් පැහැදිලි කරන්න.

4. මෙහි දක්වෙන්නේ අත් යන්ත්‍රයක වාම් වියමන් රටාවකින් වියා ගැනීම සඳහා සකස් කරන ලද අත්පිස්නා නූල් හැදයකි.




   ※ හැදයේ දිග මීටර 40කි.
   ※ හැදයේ පළල සෙන්ටිමීටර 50කි.
   ※ සෙන්ටිමීටර එකක නූල් පොටවල් (දික් නූල්) ගණන 32කි.
   ※ නූල් නොම්මරය $2/40S$
   ※ නූලේ වර්ණය - සුදු

   (i) වාම් වියමන් ප්‍රභේදයකින් එක රටාවක නූල් මතුවීමේ ක්‍රමය ප්‍රස්තාරගත කර දක්වන්න.
   (ii) අත්පිස්නා හැදය සඳහා අවශ්‍ය වන දික්නූල් පොටවල් සංඛ්‍යාව කීය ද?
   (iii) මෙම හැදය සකස් කර ගැනීමට අවශ්‍ය වන නූල් ප්‍රමාණය ගණනය කරන්න.

5. පොළොවෙන් ලබා ගන්නා මැටි, විවිධ ක්‍රම භාවිත කරමින් භාණ්ඩ නිෂ්පාදනයට දයක කර ගැනේ.
   (i) භාණ්ඩ නිෂ්පාදකයකු දැනුවත්ව සිටිය යුතු, මැටිවල භෞතික හා රසායනික ගුණ මොනවා ද?
   (ii) පිගන් භාණ්ඩ නිෂ්පාදනය සඳහා භාවිත වන හා ඇලෙනසුලු අමුද්‍රව්‍ය මොනවා ද?
   (iii) සකපෝරුව ආධාරයෙන් මැටි භාණ්ඩයක් ඉදිකර ගන්නා ආකාරය පැහැදිලි කරන්න.

6. නූල් භාවිත කර වියීම මෙන් ම ගෙතීම ද ඈත අතීතයේ සිට පැවතෙන කර්මාන්තයක් ලෙස දක්විය හැකි ය.
   (i) ගෙතීම මගින් ගෘහ අලංකරණ ලෙස නිපදවන නිර්මාණ **හතරක්** නම් කරන්න.
   (ii) වියීම සඳහා යන්ත්‍රගත කිරීමට, නූල් සමූහය හැදයක් ලෙස දිග්ගසා ගතයුතු වෙයි. දිග්ගැසීමේ උපකරණ කට්ටලය නම් කරන්න.
   (iii) රෙදි නිෂ්පාදන ක්‍රියාවලියේ දී අත්යන්ත්‍රයක ඇති ලීවර රාමුව සහ අච්ච යන උපාංගවලින් සිදු කෙරෙන කාර්යයන් පැහැදිලි කරන්න.

7. වර්තමානයේ විවිධ මාධ්‍ය භාවිතයෙන් ගෘහ අලංකරණ මෙන් ම උද්‍යාන අලංකරණ නිර්මාණ ද බිහි වේ.
   (i) මැටි මාධ්‍යයෙන් පළමු පිළිස්සීම හෙවත් නිදුලතවූ පිළිස්සීම (Bisque Firing) පමණක් කරන ලද ගෘහ භාණ්ඩ **හතරක්** නම් කරන්න.
   (ii) නිවසක ගෙවත්තේ පිහිටුවා ඇති පොකුණක් අසල තැබීමට සුදුසු උද්‍යාන අලංකරණ නිර්මාණයක් ඉදිරිපත් කරන්න.
   (iii) පහත දක්වා ඇත්තේ මැටි භාණ්ඩ පිළිස්සීම සඳහා පරිහරණය කරනු ලබන දේශීය පෝරණුවක දළ සැලැස්මකි. එහි *A, B, C, D* වලින් දක්වා ඇති කොටස් නම් කරන්න.




※ ※ ※